★ අර්ශස්!

★ අර්ශස්!!

★ අර්ශස්!!!

★ මූලවාත, ★ අණ්ඩවාත, ★ හර්නියා
★ අංශභාගවාත

ස්ත්‍රී, පුරුෂ, මනුෂ්‍ය ශරීරයේ බඩවැල් හා
ගුදනාලය නරක් කරමින් ක්‍රමයෙන්
සැදෙන
කුඩා ගෙඩි කල්යාමේදී ලොකුවී හරස්ව
පවතින විට

**අර්ශස් නමින් හැඳින්වේ.**

මෙය වියලි අර්ශස් හා ලේගත අර්ශස්
වශයෙන් බෙදේ.



වියලි අර්ශස් වලින් ගෙඩි ලේ කුවී හිරවී හදවීමද අභ්‍යන්තර අර්ශස්වලින් ගෙඩි පුපුරා ලේ යාමද සිදුකෙරේ මෙම පීඩාකාරී අසහීපය පරම්පරා වෙන් විෂම ආහාර ගැනීම නිතර ඉඳගෙන සිටීම කිරිපනුවන් ගුදනාලය කෑම බද්ධය ආදී හේතූන් නිසා සෑදේ

## රෝග ලක්ෂණ විශේෂයන්:-

ලේ යාම ගෙඩි හිරවීම, කිරිපනුවන් කෑම, මල බඩිය තුවාල සිදුවීම දැවීම මල පිටකිරීම සැරව දියර විශේෂයන් ගැලීම බඩවැල පත්වීම ශක්තිය යාම කෑම අරුචිය නින්ද අඩුකම මුත්‍රා අමාරු නිත ගත කතාවෙන් සුන්වීම සිහිකල්පනා අඩුකම අපායපැද්ද ආදී රෝග ලක්ෂණද පහලවේ

මෙම අර්ශස් රෝගයට සොයාපමණ වෙදකම් කළත් ඒවා සම්පූර්ණයෙන් සුවකර රෝග ලක්ෂණ ඉවත්කර අර්ශස් ගෙඩි වියලී ගැලවී යාමට තරම් බඩ වැල්වල හා ගුද නාලයේ බැඳෙන මලහා කිරිපනුවන් ඉවත්කර මල මිහා ඉදනාලය නිස්ව පිරිසිදුව තැබීම අවශ්‍ය වේ එසේ පවතින විට මුලවාත නැදීන් වාතුව නිස්වීම නිසා අර්ශස් ගෙඩි හා තුවාල සම්පූර්ණයෙන් වියලී යනු ඇත

වෛද්‍ය කර්මයෙන් අවුරුදු 50 ක පලපුරුද්දක් ඇති අපි විසින් රෝගීන්ට ප්‍රතිකාර යොදන විට සෑහෙන් ප්‍රතිකාර ගැනීමට පැමිණෙන අර්ශස් මුලවාත රෝගීන්ට සුවය ලබාදීමට නොයෙක් අත්දැකීම් ප්‍රතිකාර ක්‍රම සොයාබැලූ යෙදුවේ නමුත් ඒ යෙදූ ප්‍රතිකාරවලින් අපි බලාපොරොත්තු වූ අන්දමට රෝගීන් සුවපත් නොවූ නිසා අර්ශස් රෝග සුවකිරීමට නව නවත් ප්‍රතිකාර ක්‍රම සෙවීමට යෙදීමට අත්හදා බැලීමට සිදුවිය

එසේ වට්ටෝරු සොයා පැරණි පුස්කොළ පොත් බලනවිට අනමෝලමෙන් අවුරුදු දහස් ගණනකටත් වඩා පැරණි පරම්පරාගත පුස්කොළ පොතක තිබී උපුටාගත් රහස් ඖෂධ වට්ටෝරුවක් දැකීම නිසා එය සාදා පැමිණෙන අර්ශස් රෝගීන්ට යෙදීමට පටන් ගත්තෙමු

## එම "කමනාගස් චූර්ණය හා කල්‍යාණාව තෙල්කය"

භාවිත කළ පානීය යෙදූ සෑම අර්ශස් රෝගියෙක්ම ඔවුන් බලාපොරොත්තු වූ අන්දමට සුවය ලැබූහ. එබැවින් මෙම බෙහෙත් පානීය අර්ශස් රෝගයෙන් පෙළෙන රෝගීන්ගේ සුවයෙහි සලකා නිර්භයවම ඉදිරිපත් කිරීමට අදහස් කළෙමු.

දැනට මෙම බෙහෙත් පානීය ලංකාවේ නොයෙක් පලාත්වල අර්ශස් රෝගීන්ට යොදා සුවපත්ව සිටින බව සංතෝෂයෙන් ප්‍රකාශ කරමු.

තවද විශේෂයෙන් සැලකියයුතු කරුණක්නම් මෙම "සමන්තාගිය් ව්‍රණීය හා කල්‍යාණාව ලේහය" අපේ පෙරදිග බෙහෙත් ශාලාවට පැමිණ හෝ ලියා ලබාගන්නවා හැර වෙන කිසිම බෙහෙත් ශාලාවක හෝ වෙළඳ සැලක විකිණීමට තබානැත

කටුපොත "පෙරදිග චිකිත්සාගාරය හිමි වෛද්‍යාචාර්ය, එච්. පී. ආර්. ධර්මරත්න මහතාගේ බෙහෙත් ශාලාව කටුපොත නගරයේ හැර වෙනත් කිසිම නගරයක ශාඛා හෝ ගේලයින් නැති බවද කරුණාවෙන් සලකන්න

එමෙන්ම අපේ ඖෂධ වර්ග හා බෙහෙත් ශාලාව වෙනත් කිසිම වෛද්‍ය වරයෙකු සමඟ සම්බන්ධ නැති බවද සලකන්න අපෙන් ඔබට ප්‍රතිකාර ගැනීමට අවශ්‍ය නම් කෙලින්ම මාර්ග විස්තරය අනුව කටුපොතට පැමිණ "පෙරදිග චිකිත්සාගාරය" නම් නිවෙද බලන්න පෙරදිග චිකිත්සාගාරය අංක 356 යටතේ රජයේ ලියා පදිංචිකර ඇති නිසා වෙනත් ශාඛා හෝ ස්ථාන නැත

ඔබ කෙලින්ම වෙනස වටහා ගැනීමට වෛද්‍යාචාර්ය, එච්. පී. ආර්. ධර්මරත්න මහතා ප්‍රතිකාර කරන්නේ කටුපොත පෙරදිග චිකිත්සාගාරයේ බව මතක තබාගන්න

පැමිණීමට අවශ්‍ය නම් අපි එවා ඇති මාර්ග විස්තරය බලා රැගෙන පැමිණෙන්න එසේ පැමිණීමට අපහසු රෝගීන් සම්පූර්ණ රෝග විස්තර ලියා නියමිත මුදල සමඟ එවන්න.

**බෙහෙත් පංතිය සති දෙකකට ප්‍රමාණවත්වේ. සම්පූර්ණ සුව ලැබීමට අඩු තරමින් මාස 2 ක් වත් නොකඩවා බෙහෙත් පංතිය ගත යුතුව ඇත.**

**මේ කාලයේ ඖෂධ මිල අධික නිසා සති දෙකට අවශ්‍ය බෙහෙත් පංතිය තැ: ගා: සමග දතට මිල රු: 35.00**

අමතර වශයෙන් වෙනත් තෙල් බෙහෙත් වර්ග යෙදීමට සිදුවුවහොත් ඒ සඳහා වෙනම හෝ අමතර මුදලක් අය කිරීමට සිදුවන බව තෙල් බෙහෙත් මිල අධික මේකාලයේ ඒ ගැන සිතන්න

සැලකිය යුතුයි:-

මේ හැර ස්ත්‍රී පුරුෂ තරුණ මහලු සියලුම මනුෂ්‍ය ශරීරයේ හැදෙන දරුණු අංශභාග වාතය, අණ්ඩවාත, තරුණයින්ගේ ස්වප්න දෝෂ, කෙට්ටුවීම ස්ත්‍රීන්ගේ ඇඟ උනුකරවායාම, දුර්වලවීම, බාලක පක්ෂාඝාතය, කෘශවීම, ග්‍රහණී මාන්දම් රෝග, මුත්‍රා රෝග, දියවැඩියාව, ප්‍රමේහ රෝග, පුරුෂ ශක්තිය ධාතු ශක්තිය හීනවීම නශ්‍යකාමය ලිංගිකා බාධ තාහර අප්‍රාණිකවීම ආදී සියලුම රෝග සඳහාත් කර රෝග විස්තර ලියා එවා හෝ හමුවී ඉතාම ඉක්මන් සුව දෙන බෙහෙත් වර්ග ලබාගත හැක.

සියලුම ලියුම් හා මුදල් ඕඩර් පහත සඳහන් ඇඩ්‍රසයට එවන්න.

වෛද්‍යාචාර්ය, එච්. පී. ආර්. ධම්මරත්න

# පෙරදිග චිකිත්සාගාරය.

කටුපොත.

**මාර්ග විස්තරය:-**

කුරුණෑගල සිට මහකෙලිය හරහා කටුපොතට කුලියාපිටිය සිට මුණමල්දෙණිය හරහා කටුපොතට, නාරම්මල සිට වාරියපොල මාර්ගය ඔස්සේ කටුපොතට පැමිණ, පෙරදිග චිකිත්සාගාරයට පැමිණෙන්න!

**පිහිටීම:-**

කටුපොත වෙළඳ පොල සමීපයේ

# අර්ශස් රෝගීන්ට
## විශේෂ උපදේශ පොත.

බේත් පාවිච්චි කිරීමට පළමුව ඔබ මෙම විශේෂ උපදේශ පොත වාර කීපයක් හොඳින් කියවා බේත් පාවිච්චි කිරීමට පටන් ගන්න පළමුව බේත් වර්ග හුළං නොවදින පරිදි වීදුරු බෝතල්වලට අස්කර සුරැකිව තබා ගන්න ඔබට ඇති පහසුව අනුව බේත් පාවිච්චි කිරීමට යොදගන්න.

**බේත් පාවිච්චි කරන පිළිවෙල:**

නො.1 නොසාත් රසායනලේහය දිනපතා උදේට පමණක් කලන් භාගයක් හෝ අඹනෙල්ලි ගෙඩියක් පමණ ඉඳුන කෝලිකුට්ටු හෝ පුවාලු ගෙඩියක් සමග කාලා නිවුණ වතුර ටිකක් බොන්න.

නො.2 නොහොත් ඒ සමග ඇති චූර්ණය දිනපතා රාත්‍රී 10 ට නින්දට කලින් වරකට තුඩා ගත් හැඳි 2 ක ප්‍රමාණය උණු වතුරට දමා සූකිරි කුඩු හෝ සිනි ප්‍රමාණයක් මිශ්‍රකර කුඩුප් සමග කලවම් කර බොන්න.

**පහසුකම් අනුව විශේෂ ඖෂධ සංයෝග වර්ග**

ලේසාම නදින් පවතිනාම බේත් වර්ගවලට අමතර වශයෙන් (1) කරල් සැබෝ රතුලූනු තැම්බා සීනි මිශ්‍රකර බීම හෝ (2) අලුකෙහෙල් අල, මාදම් පොතු, අට්ටික්කා පොතු, අඹුර අඹුර ගෙන තම්බා පෙරා සීනි හෝ මීපැණි මිශ්‍රකරඅමතර වශයෙන් බේත් වර්ග ගන්නා විට උදේ 9 සවස 3 ට වැනි අවස්ථාවක බීම හොඳයි

මූලයෙන් සෙම සොටු දියර මැලියම වැනි අන්දමට පිටවන අයට අමතර ඖෂධ සංයෝග:—

(1) කොහිල අල රතුළූනු කොටා උණු වතුරෙන් මිරිකා ගිතෙල් මිශ්‍රකර බීම (2) බෙලිමද තම්බා පෙරා ගිතෙල් මිශ්‍රකර බීම.

(3) ඉරිවෙරිය කොළිඳ පොතු, නෙලුන්රේණු, දෙලුම් ලෙලි තම්බා පෙරා මී පැණි මිශ්‍රකර උදේ 9 සවස 3 වැනි අමතර කාලයක බීම හොඳයි.

තදින් ලේ යන විට බාහිරවගයෙන්, නිවුණ වතුරට සීනක්කාරම් ටිකක් කුඩුකර දමා රෙදිකඩක් තෙමා මූලය තෙමීම, යටි බඩ අතත් කිරීමෙන් ඉක්මනින් ලේ යාම අඩුවේ.

## මූලමය බඩවැල් ෂාත්වන රෝගීන්ට:

(1) කුරමුල්, සිංමුල් බැබිලැමූල්, රතුළනු අලුකෙසෙල් අල අනුර අඹ ගෙන හොඳට තලා තම්බා පෙරා ගිතෙල් මිශ්‍රකරඋදේ 9 ට සවස 3 ට පෙර බීම, (2) හුඹ කොල රතුළනු තම්බා පෙරා සීනිමිශ්‍ර කර උදේ 9 ට සවස බීම හොඳයි.

## අර්ශස් වලින් ලේ යන විට:

කොහිල අල රතුළනු කොටා උණු වතුරෙන් මිරිකා ගිතෙල් පිටි සීනි මිශ්‍ර කර බීමෙන් ඉක්මනින් ලේයාම සුවවේ.

(2) නෙලුන් චර්ණු, හාතාවාරි අල පාවට්ටා මුල් කලාඳුරු අල කසාය උක් පැණි දමා බීම හොඳයි,

## අර්ශස් ගෙඩි දියවීමට පිටතින් ගාන බෙත්:—

වෙම්වායින් ඔබට පහසු යෝගයක් සාද තියා ගෙන, පහසු විටක පිටතින් ගාන්න

(1) සහිඳ ලුණු, තිප්පිලි මාරා ඇට සමට ගෙන වරා කිරෙන් අඹරා තියා-ගෙන අර්ශස්ගඩු පිට ගාන්න.

(2) බිංදම්මල, සීනක්කාරම්, රත්නිටුල්, අමුකහ දෙහි ඇඹුලෙන් අඹරා ගෙඩි පිට ගාන්න ගඩු හිල්වී ලේ ගොස් අඩුවේ.

(3) කදුරු මුල් පොතු කුඩුකර කොහොඹ තෙලින් අඹරා ගෙඩිවල ගාන්න හිල්වී ලේ ගොස් සුවවේ.

## මූලමය ඉදුමුණ රෝගීන්ට:—

(1) එල ගොම පොට්ටනියක් සාද වන්ඩුව බැඳ කෙසෙල් කොලයක් උඩ එළ ගොම පොට්ටනිය තබා රත්කර මූලය තැවීම.

(2) සතකුප්ප තලා පොට්ටනි බැඳ වන්ඩුවේ තියා රත්කර මූලය තැවීම

(3) රතුළනු ගිතෙල් සමග තලා මූලයට තබා බැඳීම හොඳයි ඉන් මූල ගෙඩි, ඉදිමුව දැවිල්ල අඩුවේ.

## බඩවැල් ඉහලට ඇදීමට දුම් අල්ලන බෙත් වර්ග;—

කිඹුල්සම් හෝ කොටිසම් කැබලිවලට කපා අඟුරුවලට දමා මූලයට දුම්

ඇල්ලීම හොඳයි.

(2) හුංඩුවක් මෙන් වලසාරා ඒ ඇතුලට පොල් බෑයක් පත්තුකර දමා ඒ විටට මුහුණපැහැන්න කොල බෙලි කොල වැටහිරි කොල කොටා පත්තුවෙන පොල් බෑයට උඩින් දමා නැගෙන දුම් මූලයට අල්ලන්න.

## කැඳ වර්ග:-

උලන්දුකාලයට, කොහිල, හාතාවාරිය අල පොල් සමග කොටා මිරිකා ගත් යුෂ නැකුලු හාල් රතුළුනු දමා උයා එයට මිරිකාගත් යුෂ දමා කැඳ පිස කිතුල් හකුරු සමග බීම.

(2) ඉඳිබෝඩ පොල් සමග මිටිකා හාල් රතුළුනු දමා කැඳ පිස බීම හොඳයි

## කෂාය වර්ග අර්ශ රෝගීන්ට:-

ඉරමුසුමුල් නියඟස්සවාලුමුල් මුද්‍රප්පලා වැල් නාගබලියාමුල් සෙනෙහෙ කොල, කටුකරෝසන, පාවට්ටාමුල්, අරළු කොහොඹපොතු වැල් කහබිලියාමුල්, වෙනිවැල්ගැට, නෙරෙංචි, කෙළිඳ ඇට මේවා කළඳ බැගින් ගෙන වතුර පත 8-1 ට සකාරා පෙරා සීනි මීපැණි මිශ්‍රකර කෂායක් තුන්වේල බැගින් කෂාය 4 ක් පමණ බොනවා.

## මූල ගෙඩිවල ගැමට තෙලක්:-

කුප්පමේනි කොළ යුෂ නියඟලා අල යුෂ හිහුරු පටෙ යුෂ බටුකර යුෂ මේවා එක පමන ගෙන ,ඊට අමු ඉඟුරු, ගම්මිරිස්, කලුදුරු සුදුරු අසමෝදගම්, වදකහ, සීනක්කාරම්, සහිඳ ලුණු සුදුළුනු සම්භාගව ගෙන අඹරා තලතෙල් දමා සකාරා ගෙඩි පිට උදේ සවස ගාතු ගෙඩි දියවීයයි

## ගෙඩිවල ගැමට බෙත්:-

(1) පුෂ්කර නබළලන් බැඳ අලුකර ගිංතල් මිශ්‍රකර ගෑම.

(2) යවකාර ලුණු දෙහි ඇඹුලෙන් අඹරා

(3) වෙඩිලුණු, සහිඳ ලුණු සුදුළුනු සමවගෙන අඹරා ගෙඩිපිට ගෑම හොඳයි මෙම බෙත් වර්ග ඕහේ ප්‍රයුව හා ගුණ ඇති අන්දමට සාද පාවිච්චිකර බලන්න. ගෙඩි හින්වීමට දියවීමට ප්‍රත්‍යක්ෂ බෙත් වර්ගය.

## අර්ශස් රෝගීන්:-

බයිසිකල් පැදීම, බර ඉස්සීම, බඩ වියලවන උෂ්ණාධික කටුක ආහාරපාන

ගැනීම හොඳමයි.

**සැලකිය යුතු කරුණු:-**

ඉහත සඳහන් ප්‍රතිකාර ක්‍රම, අර්ශස් රෝගීන්ට ගුණදෙන ප්‍රත්‍යක්ෂ ... බව සලකන්න. අමතර වශයෙන් ඒ ප්‍රතිකාර සමග සමනාගිය් ... කලක් පාවිච්චි කිරීමෙන් මූල වායුව, රක්ත වාතය, බඩේ රෝග, ... යෙන් සුවවන බව සිතන්න. තවද මූලවාත අර්ශස් රෝගීන් සඳහා ... පරීක්ෂණයෙන් පසුවට රෝගයේ බලපෑම අනුව යෙදීමට ... අත්දමේ බත් වර්ග සූදානම්කර ඇති බැවින් නොපමාව පෙරදිග චිකිත් ... ගාරයට පැමිණ අප හමුවන්න,

හමුවීම හා විමසීම:-

වෛද්‍යාචාර්ය, **එච්. පී. ආර්. ධර්මරත්න**

# පෙරදිග චිකිත්සාගාරය.

**කටුපොත.**

කොපමණ දරුණු අංගභාග වාත රෝගයක් වුවත්

**මහා පක්ෂාඝාතාදි ඝෘතය (තෙල) සහ එම රසායන බෙහෙත් පංතිය**

නොකඩවා මාස 1 හමාරක් ගැනීමෙන් නීරෝගීව සුවපත් විය හැකි බව සහතික කරමු.

**මාස 1 හමාරේ සම්පූර්ණ බෙහෙත් පංතියට රු: 275/-**

වැඩි විස්තර **කටුපොත පෙරදිග චිකිත්සාගාරයට පැමිණ හෝ ලියා එවා ලබාගන්න.**

---

ශ්‍රී වර්ධන මුද්‍රණාලය - කටුපොත.

# විස්තර පොත. (අංක 2)

---

**හර්නියා නොහොත් අන්ත්‍රවෘද්ධිය.**

මෙය මනුෂ්‍ය ශරීරයෙහි බඩවැල් පළල් විමත් සමග මාංශ පේශීන් බුරුල්වී ඉදිරියට නෙරා එන මාංශාර්බුද රෝගයකි. යටිබඩ ප්‍රදේශය ආශ්‍රිතව ඉකිලියට උඩින් දෙබම බැයකට සමානව ඉදිරියට නෙරාවිත් ඉලිප්පී පවතී.

ශරීරයේ වම් පැත්තේ හෝ දකුණු පැත්තේ හටගන්නා මෙය එක පැත්තක හෝ දෙපැත්තටම සෑදිය හැක. මේ අන්ත්‍රවෘද්ධිය තැක්කුම වේදනාව නැතත් මාරාන්තික නොවුවත් ජීවිත කාලයටම කරදරකාරී වැඩ කටයුතු වලට අවහිරවන ආබාධයකි. නිදාගෙන හෝ උඩුකුර අතට දිගාවී සිටිනවිට ඉලිප්පී පවතින බඩවැල හා පේශි දිගහැරීම නිසා ඇතුලට ගිලේ. ඉඳගෙන හෝ සිටගෙන සිටින විට හැකිලීම නිසා ඉදිරියට නෙරාවිත් අතේ වැලමිට හැකුලුනාක් මෙන් හදව පවතී.

ආහාරපාන ගැනීම, වෙහෙසීම වැනි අවස්ථාවලදී නෙරීම වැඩිවන අතර වායුව ලිහිල්වන විට කුඩාවේ. පටන්ගන්නා අවධියේ සාමාන්‍ය ඉලිප්පෙන ගතිය ඇතිවිට වෛද්‍යෝපදේශ ගැනීම නොකළහොත් කල් යාමේදී ක්‍රමයෙන් ලොකුවී ගියොත් ශල්‍යකර්ම වලට මුහුණපෑමට සිදුවේ.

**හර්නියා නොහොත් අන්ත්‍රවෘද්ධිය හේතු.**

අවිවේකී ස්වභාවය නිසා සුළු වශයෙන් රෝග ලක්ෂණ දනුනත් තැක්කුම රුදාව නොදැනීම නිසා මේ අර්බුදකාරි තත්වය ගණන් නොගන්නා සමහරු බර ඉස්සීම, වෙහෙසීම, බයිසිකල් පැදීම දිවීම පැනීම ලී ඉරීම ගැස්සීම වැනි ශරීරය හෙල්ලෙන ක්‍රියාවන් නිසා යටිබඩ පෙදෙසේ පේශි තව තවත් බුරුල්වීමට හැරේ. මේ අය රෝගී තත්වය ගැන නොබලා සේවයෙහි යෙදෙනවිට සාමාන්‍ය ස්වරූපය ගණන් නොගනී.

**විවේක ගැනීම,**

රෝගාබාධ වලට ප්‍රතිකාර යොදනවිට විවේක හා ගැලපෙන ආහාර පාන අවශ්‍යවේ. එයට හේතුව නම් ශරීරයේ බුරුල්වන නහර තන්තු මාංශ පේශී නැවත ශක්තිමත් වී ලියලීමට විවේකයක් පෝෂණාහාර පානාත් අවශ්‍ය බැවිනි.

රෝග ලක්ෂණ දනෙන මුල් අවස්ථාවලදී ප්‍රතිකාර ලබා සුව ලබා ගැනීමට පහත සඳහන් ප්‍රතිකාර ගන්න.

**හර්නියාව නොහොත් අන්ත්‍රවෘද්ධියට ප්‍රතිකාර.**

1. කෂාය.

දූත්ත අල, බැබිල මුල්, වියලි ඉඟුරු, කටු කරඩු මුල්, දේවදාර, නිකමුල් බෙලි මුල්, සුදුළූනු, කොල්ලු, උඳු, මේ ඖෂධ එක වණයක් කලන් 1 යි මදට 4 බැගින් ගෙන වතුර කාල් 8 - 1 ට තකාර පෙරා උදේට සගිඳ ලුනු සවසට ඕනි මීපැනි දමා කෂායක් වේල් 3 බැගින් කෂාය 6 ක් පමණ බොන්න.

2. කෂාය.

බෙලිමුල්, මිදිමුල්, කොට්ලල මුල්, පලොල් මුල්, ඇද්දෙගට මුල්, පොල් පලා මුල්, කටුවැල්බටු, කෙරෙහෙන්චි, අස්වැන්න මුල්, අමුක්කරා අල, බැබිල මුල්, මේවා කලඳ බැගින් ගෙන වතුර කාල් 8–1 ට සකාරා පෙරා උදේට ගිතෙල් එක් හැඳි 1 ක් හා මීපැණි මිශ්‍රකර කෂායක් 3 වෙල බැගින් කෂාය 8 ක් පමණ බොන්න. (මෙම කෂාය අංශභාග වාත රෝගීන්ටද ගුණ දායකය.)

සෑදූ බෙහෙත් වගයෙන් අශ්වගන්ධාරිෂ්ඨය, දශමූලාරිෂ්ඨය, දන්ති අරිෂ්ඨය වැනි අරිෂ්ඨයක් දවල්ට රෑට කෑමට පසු මේස හැඳි 1 ක් බැගින් බොන්න පිටතින් අශ්වගන්ධා තෙල, මහාමාෂ තෙල, බලා තෙල, ගාලා පතුරු කැල්ලක් තියා රෙදි පටියකින් ඉහාවටා බඳින්න.

බඳින බෙත් හා පැල්ලම්:-

3. මුරුංගා කොළ, කුඹුරු කොළ, බෙත් එඬරු කොළ, කොටා පලවා පය තෙල්, රත්කර තියාගෙන පිටතින් තෙල් ගාලා පැල්ලම තියා තදවන පටිද පතුරක් තියා බඳින්න.

4. අත්පාවාඩිය සෑදී කල්ගතව ඇති ශල්‍යකර්ම වලට එකමැති රෝගීන් පර්මසියනීස් හර්නියා බෙල්ට් එකක් ගෙන අඳින්න හොඳයි. මේ රෝගීන් නිතර මිඳු වාත තෙලක් ගෑම මලබද්ධය නැතිකරන ඖෂධ ගැනීම හොඳයි.

5. පැදූ ජිරෝන,

ගැට අරළු, අරළු, වැල්මී, සුකිරි, සෙමනෙහ කොළ, මේවා එක පමණ ගෙන හොඳට තලා පැනෙන ලතු වතුරට දමා කැම්බුනාට පසු පෙරා සීනි මිශ්‍රකර රෑට නින්දට යාලින් බීම හොඳයි.

**අණ්ඩවාතය,**

මෙම ආබාධය බාල තරුණ මහලු සෑම වයසකම සෑදිය හැකි ආබාධයකි. මුලින් ආබාධය සෑදුන විට සම්පූර්ණ සුව ලබනතුරු ප්‍රතිකාර නොකර තාවකාලික සුව ලබන විම නවත්වා අපථ්‍ය ආහාර විහරණ වල යෙදෙන විට නැවත නැවත මතුවී ශල්‍යකර්ම වලට පවා මුහුණදීමට සිදුවේ. ඒ හේතුව නිසා සම්පූර්ණ සුව ලබනතුරු ප්‍රතිකාර හා විවේක ගන්න.

**රෝග ලක්ෂණ.**

උදේ කාලයට අඩුවන සවස් කාලයට කැක්කුම වේදනාව වැඩිවන මෙම ආබාධය පුරුෂයින්ගේ වම හෝ දකුණු අණ්ඩ කෝෂවලට සෑදේ. කෝෂ යට වැටී ඇති නහර ඉලිප්පීම කැක්කුම ඉදිමුම වායුව හලාගත ඒම උඩින් පහළ මතුවීම, කොරවීම, මලබද්ධය, ඇදුම් කෑම හා එක කෝෂයක් අනිත් කෝෂයට වඩා එල්ලා වැටීමද සිදුවේ.

**ප්‍රතිකාර,**

5. වැල්පෙනල සහමුලින් කලන් 12 ක් ගෙන වතුර කෝල් 8–1 ට සකාරා පෙරා උදේට එඬරු තෙල් හා සවසට සීනි මීපැණි කලවම් කර කෂායක් දෙවෙල බැගින් කෂාය 6 ක් පමණ බොන්න.

6. කුඹුරු ඇට, කොල්ලු, ගබ්න් එඬරු මුල්, වැල් පෙනලමුල්, මුඩමහණ මුල්, හුදුවක්කු, බෙලි මුල්, මේවා කලන් 1 ක හමාරක් බැගින් ගෙන වතුර කෝල් 8–1 ට සකාරා පෙරා සීනි මීපැණි මිශ්‍රකර කෂායක් දෙවෙල බැගින් කෂාය 6 ක් පමණ බොන්න.

7. තහර බලකාරක අශ්වගන්ධාරිෂ්ඨය, බලාරිෂ්ඨය, අමෘතාරිෂ්ඨය වැනි අරිෂ්ඨයක් දවල්ට රෑට ආහාරයට පෙර අවුන්ස 2 ක් බොන්න.

8. රසායන බෙහෙත් වර්ගයෙන් කල්‍යාණාවලේහය, චන්ද්‍රප්‍රභාවටිකාව, වැනි ආයුෂ වර්ධන බෙහෙතක් කලක් පාවිච්චි කරන්න.

9. තැවිලි.

උළුකාල්, තලා පොට්ටනි බැඳ වන්ඩුවේ තියා රත්කර සෑදූ තෙලක් හා උඩින් තැවීම හොඳයි.

10. ඉඳිමුම් තදින් පවතිනම කුඹුරු කොළ කොටා මිලඩා මී තෙල් ගා කටා පිටතින් ඒ තැවිලිම් තියා බැඳීම හොඳයි

මේ ආබාධයෙන් සම්පූර්ණ සුව ලබනතුරු බර ඉස්සීම වෙහෙසීම හොඳ පදි එළු විරේක නිතර කලයුතුයි.

**මලබද්ධය,**

අද බොහෝ දෙනෙකුට පවතින මේ මලබද්ධය අද බොහෝ දෙනෙකුට පවතින ආබාධයකි. ශරීර උෂ්ණය දියර අඩු ආහාර ගැනීම අවිවේකී ගතිය නිසා මේ බලපෑම ඇතිවේ. බොහෝ අය මේ මලබද්ධයෙන් පීඩා විඳින බව කියති.

මලබද්ධයට ප්‍රතිකාර යොදනවාට වඩා සුදුසු ආහාරපාන පිලිබඳ හොඳ දැනීමෙන් එය සදහටම අඩුකර ගත හැක. ආහාර ගැනීමට පසු කුරුම්බා වතුර බීම, රෑට නින්දට කලින් බටර් තේ හැඳි 2 ක් ගිලලා නිවුන වතුර [illegible]ක් බොනවා.

ආහාරයට පසු බෙලිමල් කෑම, සාරණ කොල, මුරුංගා කොල, පලා කොල, නාංකුං කොල, පැපොල් ඉදුනු ඒවා යහ මාලුවට මැල්ලුමට ගැනීම වැනි ආහාර මාරුවෙන් මලබද්ධය අඩුකරගත හැක.

11. ප්‍රතිකාර වශයෙන් උදේට හෝ පහසුවිට කිරි වලට එළුහි තෙල් තේ හැඳි කීපයක් දමා සීනි දමා බීමද එලකිරි නිතර බීමද මලබද්ධයට ගුණදෙන බව සඳහන් කල හැක

12. පුහුවිල දඹු තම්බා උදේ සවසට සීනි දමා බීම හොඳයි.

**මල බද්ධයට ඖෂධ සංයෝග.**

ගැට අරළු, වැල්මී, සෙනෙහෙ කොල, මේවා එක පමණ ගෙන කබලෙන් රත්කර කුඩුකර එයට සමානව සුනිරි මුද්‍රප්පලම් දමා අඹරා තියාගෙන රාත්‍රී නින්දට කලින් කලඳක් පමණ කාලා වතුර බී නිදාගැනීමෙන් මලබද්ධය අඩුවේ:

වයස් ගතවූ අයට බලපාන මේ මලබද්ධයට ඉහත සඳහන් කළ ඖෂධ සංයෝග හා ආහාරපාන සුදුසුය. එසේ නැතුව මලබද්ධය අල්ලා සිටියොත් මූල ගෙඩි සෑදීම, ලේ යාම නින්ද අඩුකම, ආහාර අරුචිය ඇතිවිය හැක.

**කිරිපණු රෝග,**

ගුදවලියේ මල කොටස් පල්වීම නිසා ඇතිවන වායු පීඩනයෙන් ස්වා භාවිකව සෑදෙන පණු බිත්තර නිසා කිරි පණුවන් උපදී. මොවුන් මලාශයේ සිට ගුද නාලය දක්වා ගලාවිත් නිතර මූලය හා මල මාර්ගය සිදුරු කිරීමට පටන් ගනී. මේ හේතුවෙන් තුවාලවන මල මාර්ගය හා ගුදවලිය බිබිළි මතුවී ක්‍රමයෙන් ගෙඩි සෑදී ඒවා අර්ශස් බවට හැරී ගෙඩි හිරවීමට ලේයාමට පටන් ගනී. එබැවින් මලබද්ධයෙන් හා කිරිපණු රෝගයෙන් ආරක්ෂාවීම මූල අර්ශස් රෝග වලින් මිදීමට ඇති ප්‍රධානම පිළියමයි. මල බද්ධය නිසා ගුදනාලය පිපිරීමෙන් කැක්කුම් වේදනාව දැවිල්ලද ඇතිවේ.

**කිරිපණු රෝගයට ප්‍රතිකාර හා උපදෙස්,**

1. නිතර බඩ විරේකයක් කිරීම
2. මුරුංගා කොළ රතුළූනු තම්බා උදේ සවස බීම,
3. එරබදු කොළ, රතුළූනු තම්බා උදේ සවස සහිඳ ලුනු මිශ්‍රකර හෝ සීනි දමා බීම හොඳයි.
4. වලහසාල් කබලෙන් රත්කර කුඩුකර කෝපිමෙන් බොන්න.
5. වලහසාල්, මුරුංගා මුල්, ගොටු දඹු, සුදුළූනු, අරළු මේවා සම්භාගව ගෙන වතුර පත 8 - 1 ට තකාරා පෙරා සීනි මිශ්‍රකර උදේ සවසට කෂාය කලක් බීම හොඳයි,
6. ඇහැල කොළ, රතුළූනු, සරක්කු, පොල් දමා මලවා රට ආහාරය සමග ගන්න. ටිකක් කැක්කුම් සහිතව වුවත් කිරි පණුවෝ මල සමග පිටවේ. එමෙන්ම ඇත්තෝර කොළ මලවා කෑමද හොඳයි. සුලු වගයෙන් බඩ කැක්කුම කරන ගතියක් දැනේ නම් සෝඩා වතුර ටිකක් බොන්න.

**පණු රෝග මර්ධනය,**

මලාශයේ හා ගුදවලියේ උපදින පනුවන් විසින් පිට කරන කිරිපනු බිත්තර දහස් ගණනින් ගුදවලියේ පවතිනු ඇත,

බෙත් වර්ග ගැනීමෙන් මේ පණුවන් පිටවී මැරී ගියත් ඉතිරිවන බිත්තර පුපුරා නැවත පණුවන් මෙරීම නිසා නැවත නැවතත් කිරිපණුවෝ මලාශයේ සිට ගුදවලිය සිදුරු කිරීමට පටන්ගනී. මේ හේතුව නිසා යම්කිසි ප්‍රතිකාරයක් අනුගමනය කරන්නේ නම් මලාශයෙන් පණුවන් හා පණු බිත්තර ඉවත්වන ප්‍රතිකාර ක්‍රමයක් අනුගමනය කරන්න. එවිට කිරිපණු රෝගයෙන් සදහටම වැලකී සිටිය හැක.


ලියුම් හා විමසීම්. එච්. පී. ආර්. ධර්මරත්න

**පෙරදිග චිකිත්සාගාරය.**

කටුපොත

# අංශභාග හා දරුණු වාත

## රෝගීන්ට ප්‍රතිකාර හා උපදෙස්.

සියලු සත්වයෝම තමන්ගේ ජීවිත කාලය තුළ කුමන අන්දමේ අසනීපයකට හෝ අසනීපවලට ගොදුරුවීම ස්වභාවික කරුණකි. මෙ රෝග පීඩා වෙන් වශයෙන් බලනවිට විෂ බීජ නිසා ලෙඩවීම, මන්ද පෝෂණය, විෂමාහාරපාන තුන්දොස් කිපීම, කැඩීම, බිඳීම, තැලීම, හදිසි අනතුරු ආදි නොයෙක් කරුණු වලින් පීඩා විඳිති.

නමුත් මේ රෝගාබාධ අතුරින් දිනට බෝවෙන රෝගවලට සමානව මනුෂ්‍යයාට බලපාන වාත රෝග අධික නිසා ඒ රෝග සම්බන්ධව හැඳින්වීමක හා ප්‍රතිකාර පංතියක් රෝගී ජනයාගේ ප්‍රයෝජනය සඳහා බෙදදීමට අදහස් කලෙමු. ඒවා ඉතා ප්‍රත්‍යක්ෂ අත්දුටු රහස් වට්ටෝරු බව සලකන්න

**වාතරෝග සෑදීමට හේතුවන කරුණු:**

ශරීරය ඇටකෝටු වලින් සකස්කර අභ්‍යන්තරය ක්‍රියාකාරක ඉන්ද්‍රිය යන්ද පිටතින් පේශි හා ස්නායු පට්ටල වලින් වෙලී ඇති ස්වතන්ත්‍ර ප්‍රාණ වායුව රැඳී ඇති භූතප්‍රපංචයකි. ස්නායුන්ගේ ක්‍රියාකාරීත්වයත් ස්නායු හා මාංශ පේශීන්ගේ දිගහැරීම හා හැකිලීම නිසාත් ක්‍රියාකරන ශරීරයේ ප්‍රාණ වත්කම රැඳීපවතින්නේ සප්ත ධාතූන්ගේ පෝෂණයත් වා පිත් සෙම් යන දෝෂවල ධාතූන්ගේ සම්බන්ධයත් ඇතිවය.

මෙසේ පවතින ශරීරයට ඒ සප්ත ධාතූන්ගේ හෝ දෝෂ ධාතූන්ගේ අඩුවැඩිවීම වරින්වර සිදුවන කරුණකි. ඒවායෙ සම විෂම වීම අනුව මනුෂ්‍යයා ලෙඩකරවීම හා ශක්ති සම්පන්නව ජීවත්කරවීම හෝ මරණය සිදුවීම ස්වභාවිකව බලපාන්නකි.

විෂමාහාර ගැනීම, නිදිමැරීම, අධික කාම සේවනය පිණි බෑම, ශීතල වැදීම, අවේලාවේ ඇල්දිය, අධික බර ඉස්සීම, ඕමාව ඉක්මවා ශරීරය වෙහෙසීම, වැනි කරුණු වලදී තුන්දොස් හෝ ලේවල පීඩනය ඇතිවී ඉන්ද්‍රිය ශක්තිය හීනකරවමින් වාතරෝග ලක්ෂණ පහලවීමට පටන්ගනී. ඒවා සාමාන්‍ය වශයෙන් සෑදී පසුව වැඩිවීමට හෝ සුවවීමට හැකේ. ඒ අතර සමහර වාතරෝග, සුවනොවී කල් අල්ලා සිටීමද වේ. මෙ අනුව බලනවිට වාතරෝග මිනිස් ශිරුරට ඉතාම පීඩාවන් ගෙනදෙන රෝග ලක්ෂණ පහල කරවන්නකි.

එබැවින් පහත සඳහන් කර ඇති වාත රෝග ප්‍රතිකාර, කිසිම වෛද්‍යවරයෙකුගේ උපදෙස් නැතිව ඔබට සාදගෙන යොද සම්පූර්ණ සුව ලැබිය හැකි ඉතාම ප්‍රත්‍යක්ෂ රහස් වට්ටෝරු බැවින් රෝග ලක්ෂණ අනුව මෙ ප්‍රතිකාර යොදගෙන සුවපත්වන්න.

## වාත රෝගීන්ට ප්‍රතිකාර හා උපදෙස්.

වාත රෝගීන් නෑම් ශීතල වැදීම වෙහෙසීමෙන් පුළුවනතුරු ඈත්ව විවේක ගෙන ප්‍රතිකාර ලබන්න.

## හදිසියේ ඇතිවන වාත රෝග වලට:-

1. කොල්ලු, සුදුළූනු, බෙලි මුල්, අරත්ත අල, මේවා කලන් 3 බැගින් ගෙන වතුර පත 8 — 1 ට සකාරා පෙරා සීනි මිශ්‍රකර උදේ සවස කෂාය දෙවේල බැගින් කෂාය 4 ක් පමණ බොන්න,

2. කොල්ලු, සුදුළූනු, උළුහාල් සමභාගව ගෙන තම්බා පෙරා සීනි දමා රාත්‍රී නින්දට කලින් බොන්න

## 3. සෙම උණ සහිත සාමාන්‍ය වාත රෝග වලට,

කොත්තමල්ලි, අමු ඉඟුරු, දේවදාර, එළබටු, කටුවැල් බටු, නික්වල මේවා කලඳ බැගින් ගෙන වතුර පත 8-1 ට සකාරා පෙරා සීනි දමා උදේ සවස කෂාය 4 ක් පමණ බොන්න.

## 4. තදබල සෙම උණ සහිත වාත රෝගවලට,

දේවදාර, පත්පාඩගම්, සිරිකක්කු, වදකහ, කොත්තමල්ලි, අමු වියලි ඉඟුරු, බිං කොහොඹ, කලාදුරු අල, ඇද්දෙමට මුල්, පාවට්ටා අල මේවා කලඳ බැගින් ගෙන වතුර පත 8-1 ට සකාරා පෙරා සීනි මිශ්‍රකර කෂායක වේල් තුන බැගින් උදේ සවස කෂාය 4 ක් පමණ බොන්න. රට බත් කැමෙන් වැළකී පාන් රෝස් පාන් විස්කෝතු කොල්ලට සිට වර්ග ගන්න. උණ වේගය අධික නම් ඇස්ප්‍රින් පෙත්තක් ගැනීද වාත තෙලක් ගාලා ආවරණකොට [illegible] නැවීමද උණ, සෙම, වාත වේදනා වලට හොඳයි.

## අංශභාග වාතය සෑදීමට හේතුවන කරුණු,

තමන්ගේ ශරීරයට නුසුලතා තරම්ට මත්පැන් ගෙන නිරන්තරව දවස් ගණන් ගත කරති. මේ හේතුව නිසා මත්පැන් වල ඇති ඇල්කොහොල් වලින් ශරීර ඉන්ද්‍රියයන් හා නාඩි තන්තු වියලී ගොස් ශරීරයට අවශ්‍ය ඔජස් වියළීමට පටන්ගනී. එවිට ශරීරයේ ශක්තිය රැඳී පවතින ප්‍රධාන නාඩි හා මාංශ පේශී දුර්වලව රුධිර පීඩනය වැඩිවී ලේනාල තදවී [illegible] අංශභාග වාතරෝග ලක්ෂණ පහළවේ.

ඒ තත්වය එසේ වන අතර මේ රෝගයට තවත් කරුණු හේතුවේ. අධික ස්ත්‍රී සේවනයෙන් ධාතු ක්ෂයවීම, කැඩීම, බිඳීම, ඉහළට පහර වැදීම, කොඳු ඇට බිඳීම, ශරීරයට විෂ වැදීම, ශරීරයෙන් ලේ යාම, [illegible] ශීතල වැදීම, ප්‍රමාණයට වඩා බර වැඩ කර ශරීර ශක්තිය බිඳීම, ශරීරයේ [illegible] ධාතු හීනවීම, මහලු වයසට යාමේ ඉන්ද්‍රියයන් දුර්වලවද අංශභාග වාත රෝග සෑදීමට හේතුවේ.

## අංශභාග රෝග ලක්ෂණ,

ශරීරය අප්‍රාණිකවීම, මුහ කට ඇද ඇදවීම, කඳුළු හැලීම, [illegible]

ඇඳ වැටීම, කථාව නොහැකිවීම, ක්ලාන්ත, සිහිමද ගතිය, කොන්ද කුනටියෙන් පහල හෝ එක අංගයක් පණ නැතිවීම, ආදී රෝග ලක්ෂණ පහලවේ. සමහරවිට මේ රෝග ලක්ෂණ සමග මොළෙල් හෝ හෘදයේ ලේ කැටි ගැසී නහර පුපුරා හදිසියේ ඇදවැටී මරණය පවා සිදුවීමට ඉඩ ඇති දරුණු වාත රෝග පවා සෑදීමට ඉඩ ඇත.

**සුවකිරීමට හැකිබව හෝ නොහැකි බව තීරණය කිරීම හා සුව නොවී අඩපණව ජීවත්වීම.**

මේ තත්වය තීරණය කල යුත්තේ රෝගියෙකු හරිහැටි පරීක්ෂා කිරීමෙන් පසුවටය. නමුත් ඒ තත්වයද රෝගියාගේ ශරීරයේ නහර ස්නායුවල හා ධාතු පියස්වල පූර්ණභාවය හා ඉන්ද්‍රියන්ගේ ශක්තිය ක්‍රියාකාරිත්වය අනුව රඳපවතින බව අවබෝධ කරගන්න. ඒ අනුව සමහර රෝගීන් සම්පූර්ණ සුව ලබති. සමහර රෝගීන් කලක් පමණක් ජීවත් වෙති සමහර රෝගීන් හදිසියේම මියයති. එය රෝගී තත්වයේ අනුව බලපාන්නකි.

**අංශභාග රෝගීන්ට අත්දුටු ප්‍රතිකාර හා උපදෙස්;**

රෝගයේ මුල් අවස්ථාවේදී රෝගියා සම්පූර්ණ විවේකයෙන් තබා ඇප උපස්ථාන කිරීමට කෙනෙකු තබන්න. රෝගියාට තනිවම නැගිටීමට ඇවිදීමට ඉඩ නොදෙන්න.

1. රුධිර පීඩනය ලේ ගමන නිසිනම් එය අඩුකර ගැනීමට පහත සඳහන් කෂාය වර්ග දෙන්න.

උදේ සවසට කෂාය,

සුදුළූනු, වියලි ඉඟුරු, කොල්ලු, තිප්පිලි මුල්, උඳු, කලාදුරු අල, තොලි මුල්, මිදි මුල්, මහ එඬරු මුල්, වදකහ, බැබිල මුල්, කටුකරඬු මුල් මේවා කලඳ බැගින් ගෙන වතුර පත 8-1 ට සකාරා පෙරා සීනි මීපැණි දමා කෂායක් දෙවේල බැගින් උදේ සවසට දෙන්න.

උදේ 9 සවස 3 ට පමණ චන්ද්‍රප්‍රභා ගුලි හෝ යෝගරාජ ගුලිය පෙති 2 ක් මීපැණි සමග ගිලලා සුදුළූනු උණහාල් තම්බා පෙරා දෙන්න. දවල්ට රෑට ආහාරයට පෙර බලාරිෂ්ටය අවුන්ස 1 ක් දෙන්න සිද්ධාර්ථ වැනි තෙලක් ගා අබ, මුරුංගා මුල්, සාරණ මුල්, අමු ඉඟුරු, දේවදාර, සුදුළූනු එක පමණ ගෙන හොඳට කොටා පොට්ටනි බැඳ වත්තුමේ තියා රත්කර කොඳු ඇට පෙල දිගට හන්දි ස්ථාන තවන්න මේ දින 8 කට ප්‍රතිකාර කරන්න.

2. ඊට පසු උදේ සවසට

දුශමූල, අරත්ත අල, බැබිල මුල් කටු කරඬු මුල්, උඳු, අමුක්කරා අල නාවටවා මුල් හාතාවාරිය අල මේවා කල්ද බැගින් ගෙන වතුර පත 8-1 ට සකාරා පෙරා සිනි මීපැණි දමා උදේ සවස කෂායක් තුන්වේල බැගින් කෂාය 4 ක් පමණ දෙන්න,

උදේ 9 ට ර. 9 ට රාස්නා ගුගුලි පෙති 2 ක් මීපැණි සමග අතා ගිලලා කොල්ලු, තොලි මුල්, සුදුළූනු, මේවා එක පමණ ගෙන තම්බා පෙරා සිනි දමා දෙන්න. දවල්ට රෑට ආහාරයට පෙර බලාරිෂ්ටය හෝ දන්ති අරිෂ්ටය වරකට මේස හැඳි 1 ක් පමණ දෙන්න. කැවිල්ලක්, තල, ගොටුකොළ පොල් මී ඇට මද, යකඩ්ප්ප, කසු ඇට මද, බෙත් එඬරු ඇට මද, කොල්ලු, සුදුළූනු, මේවා එක පමණ ගෙන හොඳට කොටා පොට්ටනි බැඳ වත්තුමේ

කියා රන්කර නාරායන හෝ සිද්ධාර්ථ වැනි තෙලක් කොඳු ඇට පෙල දිගට හන්දි ස්ථානවල ගා තවන්න.

වෙදුවක්.

බෙලි කොළ, මුරුංගා කොළ, අඹු අරත්ත අල, අමු වදකහ, සුදුළූණු කොල, බෙත් එඬරු කොල, කටු කරඬු කොල, නික කොල, මේවා එක පමණ ගෙන හොඳට කොටා කට කුඩා මුට්ටියකට දමා කට වසා හොඳට තම්බා නාසයෙන් කටින් දුම් ඇල්ලීම හොඳයි. ඒ වෙදුවට කොඳු ඇට පෙල දිගට තෙල් ගාලා කොන්දට දුම් ඇල්ලීම සවස් කාලයට හොඳයි. ආහාරපාන විස්තරය බලා ආහාරපාන දෙන්න. ඉසටද තෙල් ගාන්න.

## නිදන්ගත පැරණි අංශභාග රෝගීන්ට ප්‍රතිකාර හා උපදෙස් රසද් වට්ටෝරුවක්.

5. බැදපු උඳු, බින්තල් අල, සුදු හඳුන්, අමුක්කරා අල, බැබිල මුල්, සතාවාරිය අල, මුද්දරප්පලම්, පාවට්ටා මුල්, නෙල්ලි, ඉකිරි මුල්, අගිල්, සුදු පොතු, මේවා කලඳ බැගින් ගෙන වතුර පත 8 - 1 ට සකාරා පෙරා උදේට එලකිරි තෙල් මීපැණි දමා බොනවා. සවසට සීනි මීපැණි දමා බොනවා. උදේ 9 ට, රෑ 9 ට, රසායන බෙහෙත් වන ගජකේෂරිය, ජීවනාකුසුමය, කල්‍යාණාවලේහය, ශතාවරී මෝදකය, ච්‍යවන ප්‍රාසාව ලේහය වැනි පාන ගතහැකි බෙහෙතකින් කලන් 1 ක් ඉදුනු කෝලිකුට්ටු ගෙඩියක් සමග කාලා කිරි වර්ගයක් බොන්න.

දවල්ට රෑට: කෑමට පෙර අශ්වගන්ධාරිෂ්ටය, දශමූලාරිෂ්ටය, බලාරිෂ්ටය හෝ අර්ජුනාරිෂ්ටය වැනි අරිෂ්ටයක් මේස හැඳි 1 ක් පමණ බීම හොඳයි.

**පිට ගාන තෙල් වර්ග:**

සිද්ධාර්ථය, රතිමදන මහාමාෂ, නාරායන දශවග ප්‍රශමිත තෙල, බලා තෙල, අශ්වගන්ධා තෙල, බලා කෝරණ්ඩ, වැනි තෙලක් කොඳු ඇට පෙල දිගට හන්දි ස්ථානවල ගාලා උණු බත් පොට්ටනියකින් තැවීම හොඳයි.

තවද බලකාරක එලු මස්, කුකුල් මස්, සුප් වර්ග, කිරි වර්ග, දවල් ආහාර වේල සමග ගැනීම හොඳයි.

**ඝෘත බෙහෙත් වර්ග,**

මහා පන්ඤාගාතාදි ඝෘතය, අශ්වගන්ධා ඝෘතය, චාගල්‍යාදි ඝෘතය, දශමූලාදි ඝෘතය, වැනි බෙහෙතක් කලක් පාවිච්චි කිරීමද අංශභාග රෝගීන්ට ගුණදෙන බෙහෙත් වර්ගය. මේ බෙහෙත් වර්ග චිකිත්සාගාරයෙන් තැපැලෙන් ලබාගත හැක. අවශ්‍ය උපදෙස් අපගෙනුත් ලියා අසන්න.

මීට,

වෛද්‍යාචාර්ය, එච්. පී. ආර්. ධර්මරත්න

**ශෙරදීග චිකිත්සාගාරය,**

කටුපොත

# අංශභාග හා වාත රෝගීන්ට

# තෙලේ! බලේ!!

**මුල සිට අග දක්වා හොඳින් කියවා තේරුම ගන්න.**

අපෙන් ප්‍රතිකාර ගැනීම සඳහා ලංකාවේ නොයෙක් පළාත්වල සිට විස්තර අසා එවන රෝගීන්ගේ දැනගැනීම සඳහා මෙම විස්තර පත්‍රිකා ඉතා කෙටියෙන් ඔබ අතට පත්කරන්නෙමු.

**අපේ වෙදකමේ පලපුරුද්ද හා ඉතිහාසය.**

ඇත්ත වශයෙන්ම දැනට අවුරුදු 35 ක පමණ කාලයක සිට වෛද්‍ය සේවයෙහි යෙදී සිටින අපිට රෝගීන් වශයෙන් ලක්ෂයකට 10000, අධික රෝගී සංඛ්‍යාවකට ප්‍රතිකාර යෙදීමට හා උපදෙස් දීමට සිදුවූ බව අපේ සංඛ්‍යා ලේඛණ අනුව ඉදිරිපත් කළ හැක.

ඒ රෝගීන් අතුරෙන් ඉතාම දුඃඛදායක පීඩාකාරී අසනීපයක් වශයෙන් හා සුවකිරීම සඳහා නොයෙක් තෙල් බෙහෙත් උපදෙස් දීමට සිදුවූ එකම අසනීපය නම් මේ පක්ෂාඝාතය නොහොත් අංශභාග වාත රෝගයයි.

මේ අංශභාග, පක්ෂාඝාත රෝගීන්ට වෙදකම් කරන හැම අවස්ථාවකම කල්පනා කිරීමට අත්හදා බැලීමට සිදුවූයේ ඒ රෝගීන්ට සම්පූර්ණ සුවය හා සැනසීම ලබාදීමට කුමනා අන්දමේ බෙහෙත් වර්ග යෙදිය යුතුදැයි යන ප්‍රශ්නය හා ඒවා ගැන සොයා බැලීමට සිදුවීමය.

ඊට හේතුව වෛද්‍ය ශාස්ත්‍රයේ නොයෙක් තෙල් බෙහෙත් විදීම, කටු ගැසීම, පංචකර්ම වැනි වෛද්‍ය ක්‍රම ඇතත් මේ අංශ භාග වාත රෝග සඳහා ස්ථිර ගුණදෙන රෝගීන්ට පහසුවන අන්දමට යෙදීමට බෙහෙත් පංතියක් අත්හදා බැලීමට අපි නිතරම කල්පනා කළෙමු. ඒ සමගම රෝගීන්ට යොදා අත්හදා බැලුවෙමු.

**බෙහෙත් වර්ග හා ඖෂධ සංයෝග.**

මෙසේ නොයෙක් බෙහෙත් වර්ග යොදා අත්හදා බලන අපිට පහත සඳහන් බෙහෙත් වට්ටෝරු හමුවිය. එනම් දැනට අවුරුදු දහ දහස් ගණනකටත් පෙර

ආයුර්වේදයේ මූලාරම්භයේම හිමාලයේ සිටි ඍෂිවරුන් විසින් මත අනාගතයේදී මනුෂ්‍යයාට බලපාන මෙවැනි දුස්සාධ්‍ය රෝග සෑදීමට ඉඩ ඇතිබව ඍෂි ඥාණයෙන් වටහාගෙන ඒ සඳහා මිනිස් වර්ගයාගේ සුවසෙත සඳහා වට්ටෝරු කරන්නට අදහස් කළ මේ මහා පක්ෂාඝාතාදි ඝාතය ඇතුලු රසායන බෙහෙත් පංතිය අපි විසින් සාද අත්හද බැලීමට රෝගීන්ට සෑදීමට අදහස් කළෙමු.

## ඒ බෙහෙත් පංති වලින් ලැබුන ප්‍රතිපල:

පක්ෂාඝාතාදි ඝාත තෙල ඇතුලු බෙහෙත් පංතිය විශාල මහන්සියක් හා පරිශ්‍රමයක් දරා සාද අපෙන් ප්‍රතිකාර ගැනීමට පැමිණෙන ඒ දුස්සාධ්‍ය පක්ෂාඝාත අංශභාග හා එවැනි නහර දුර්වල ශරීරය අබල දුබල අතපය කොරවූ මූන කට ඇදවූ. ඇස් එපරවූ, කටාව ගොලුවූ, ශරීරයේ අතපය අප්‍රාණිකවූ සප්තධාතු ක්ෂීණව නෂ්ටකාම ලිංගික දුර්වලකම් ආදියෙන් පෙළෙන අලුත් හා නිදන්ගත රෝගීන්ට නොකඩවා යෙදූවෙමු.

එවිට එම බෙහෙත් වර්ග වලින් රෝගීන්ට ස්ථිර සුවය හා සැනසීම ලබාදීමට ඒකාන්ත වශයෙන්ම පුළුවන් බව අපිට අත්හද බැලීමෙන් ඔප්පු කිරීමට හැකිවිය.

ඉන්පසු එවැනි රෝගීන් දහ දහස් ගණනකටත් අධික ප්‍රමාණයකට අපි මේ බෙහෙත් පංතිය යොද සුවපත්කර ඇතිබව අවංක වශයෙන් රෝගීන්ට ප්‍රකාශ කරන්නෙමු.

## අංශභාග හා වාත රෝගීන්ට තෙලේ බලය යෙදෙන්නේ කෙසේද?

අද ලොවපුරා ඇති කාර්මික යන්ත්‍ර ක්‍රියාකිරීම සඳහා ඛනිජ තෙල් වලින් ප්‍රයෝජනයට ගන්නා බව ඔබහැම දන්නා කරුණකි. ඒ ඛනිජ තෙල් වල ක්‍රියාකාරීත්වය නිසා සියුම් යන්ත්‍රයක් පවා ක්‍රියාත්මක කර මනුෂ්‍යයාගේ ප්‍රයෝජනයට යොදගැනීමට හැකිබව පෙනේ.

නමුත් මේ ඛනිජ තෙල් එහි හිස්වූ විට හෝ අඩුපාඩුවූ විට කාර්මික ඇන්ජින් නවතී.

ඒ අයුරින්ම අපේ ශරීරවල ඇති ඉන්ද්‍රියය නැමැති ශරීරය ක්‍රියාකරවන ඇන්ජින් තොගහොත් ග්‍රන්ථි හා ස්නායු පද්ධතිය ක්‍රියාකරවීමට අවශ්‍ය සප්ත ධාතු හා ඒවා උපදවන තෙල් හා පෝෂ්‍ය පිණ්ඩ පදාර්ථ ශරීරයට අඩුපාඩු වනවිට ශරීරයේ ශක්තිය හා ක්‍රියාකාරීත්වය පාලනය කරවන ග්‍රන්ථි නැමැති

ඇන්පින් අඩපණව නහර ස්නායු බුරුල්වී වායු පීඩන වැඩිවීමට පටන්ගනී.

**තෙල් කොටස් වලින් ශරීර ශක්තිය හා වාත රෝග සුවවන්නේ කෙසේද?**

මිනිස් ශරීරයට තෙල පෑදීම ගැනීමෙන් උපදින මේද හා පිෂ්ය කොටස් වලින් ශරීරයේ නහර හා මාංශ පේශී ශක්තිමත් වීමත් සමග සන්ධි ස්ථාන වල ඇට මිදුළු ලියැලීම සිදුවේ. ශරීරයේ පිටතින් තෙල් ගෑමෙන් පේශී සව්වී නහර දිගහැරී වායු කෝෂ ප්‍රාණවත් කරයි. සන්ධි බන්ධන මොලොක්වී නැමීම දිගහැරීමට පහසුව ඇතිකරයි.

**මහා පක්ෂාගාතාදි තෙල හා රශායන බේත් පංතිය**

ඖෂධ වර්ග සියයකටත් අධික ප්‍රමාණයක් සකසාරාගත් ඖෂධ ක්ෂාරය තෙල් වර්ග යොදා සකසාරාගත් තෙල හා රශායන ඖෂධ සමග සංයෝග කළ රශායනය ද වශයෙන් සංයෝග කීපයක් බේත් පන්තියට අඩංගුවේ.

මේ කාලයේ අධික ඖෂධ මිල නිසා දින 15 ක බේත් පන්තියට රු. ..........ක්ද පසක බේත් වලට රු.............ක්ද වේ. තැපැල් ගාස්තු හා පැක් කිරීමට රු. ..........ක් අමතරව වැයවේ.

මෙම බේත් පංතිය ලබාගැනීම සඳහා පැමිණ රෝගී පරීක්ෂණයෙන් පසු ලබාගන්න නැතහොත් නැ: ගා. සමග අවශ්‍ය මුදල් සමග එවා බේත් පංතිය ලබාගන්න.

මාස 1 හමාරක් නොකඩවා බේත් පංතිය ගැනීමෙන් අංශභාග වාත රෝගය සම්පූර්ණයෙන් සුවකරගැනීමට පුළුවන් බව ස්ථිර වශයෙන්ම සඳහන් කළහැක.

ලියුම් හා මුදල් ඕඩර් මෙසේ එවන්න,

වෛද්‍යාචාර්ය, **එච්. පී. ආර්. ධර්මරත්න**

# පෙරදිග චිකිත්සාගාරය.

**කටුපොත.**

# විශේෂයෙන් සැලකිය යුතු කරුණක්

මේ කාලයේ අධික ඖෂධ මිල නිසාත් රෝගීන්ට ඉතා හොඳ බෙ
වර්ග ලබාදී ඉක්මනින් සුවපත් කිරීමට අදහස් කරන අපි ඉතාම පිරිසිදු ද්
ලභ ඖෂධ වර්ග සපයා අපේ බෙත් වර්ග සාදන්නෙමු. එබැවින් ඒ සඳහ
වැයවන බෙත් බඩුමිල කුලී දර වැනි අධික වියදම් දැරීමට සිදුවන නිසා බෙත
වල මිළ ගණන් වරින් වර වැඩිවී හා ඒවාට යන වියදම් සලකා අපෙ
වෙදකමේ නඩත්තුව හා ගරුත්වය රැකෙන අන්දමට තෙල් බෙත් සා
රෝගීන් සුවපත් කිරීමට අදහස් කරණ බැවින් බෙත් වලට මුදලක් කාලයෙ
හැටියට අය කලාට රෝගීන් අමනාප නොවන්න.

මුද්‍රණය:- ශ්‍රීවර්ධන මුද්‍රණාලය - කටුපොත

# ඇදුම, ඇදුම, ඇදුම,

ඇදුම, වනාහි අද ලංකාවේ නොයෙක් පළාත්වල ස්ත්‍රී පුරුෂ ලොකු කුඩා තරුණ මහලු සියලු දෙනාටම සමානව බලපාන, ගිනට ගනට දුක් දෙන රෝගයකි.

මෙම රෝගය සෑදුන බොහෝ රෝගීන් අසනීපය නිශ්ශ්‍යාවට සුව කර ගැනීමට බැරිකම නිසා. නොයෙක් අන්දමේ හදිසි ක්‍රියාකාරී, ඉක්මන් සුවය ගෙන දෙන බෙහෙත් වර්ග ගනිති. එසේ ගන්නා බෙහෙත් වර්ග නිසා. පෙනහලුවල ගලනාලයේ හා ස්වර කෝෂවල එකතුව ඇති දියර සෙම, වියලී කැටි ගැසී වායු කෝෂවල ඉටිබෙන්, ඇලී බැඳී, හුස්ම ගැනීමේ පහසුව තාවකාලික ඇතිවේ.

නමුත් වායු කෝෂවල බැඳී ඇති සෙම, සම්පූර්ණයෙන් පැසවා ඉවත්නොවීම නිසා නැවත නැවතත් සෙම උගුරේ හා පෙනහලුවල සෙම

දියවී හිරවීමට පටන් ගනී. එවිට වායුව තෙර පිට නිසා ඇදුම

රෝගය වරින් වර බලපෑම සිදුවේ.

තවද අව්ව ශීතලවැදීම පිණි බෑම නිදි මැරීම ශීතල උෂ්ණ ආහාරපාන ගැනීම ඇල්දිය නෑම සිදුවන විට සෙම්කෝප වී වායුව වැඩිවන විට පෙනහලු වලට සුළං ගෙනයන ස්වර කෝෂ සෙමින් හිරවී හුස්ම ගැනීමට අපහසු වේ.

ඒ සමගම, අමතරව සෙම ගෙඩි ඒම නාසයේ මස් දත් මතුවීම, කට ගඳ ගැසීම, නිතර, හෙම්බිරියාව ඒම, පපුවේ ශබ්දය, කැක්කුම, ගනිය කන් කැසීම, දත් මුල් දියවීම, අර්ධ කපාල පීනස් වාතය, කටට කෙල ඉනීම, උගුර බැරැන්ඩිය, කට හඩ වෙණස්වීම, නින්ද අඩුකම, කෑම අරුචිය, වියලි කැස්ස, ආදී රෝග ලක්ෂණද පහලවේ.

ඒ අන්දමට, බලපෑම් ඇති අලුත් හෝ පැරණි, ඇදුම රෝග කොපමණ දුඃ සාධ්‍ය වූවත්, අපේ ස්වාසාන්තක චූර්ණය ඇතුළු බෙහෙත් පංතිය කලක් ගැනීමෙන් නිශ්ශ්‍යාවටම සුවපත් වේ.

බෙහෙත් පංතිය දින 15 රු: 45/= රෝගයේ බලපෑම්අණුව, යෙදිය යුතු බෙහෙත් වල වටිනාකම අනුව බෙහෙත් වලට අයකිරීමට සිදුවන බව කරුණාවෙන් සලකන්න.

**බෙහෙත් වර්ග එවන විට පාවිච්චි විස්තර එවනු ලැබේ.**

ලියුම් හා මුදල් ඔඩර් මෙසේ ලියන්න

**වෛද්‍යා චාර්ය:- එච්. පී. ආර්. ධර්මරත්න**

# පෙරදිග චිකිත්සාගාරය

**කටුපොත.**

කටුපොත– ශ්‍රී වර්ධන මුද්‍රණාලයේ මුද්‍රණයකි

---


කටුපොත- ශ්‍රීවර්ධන මුද්‍රණාලයේ මුද්‍රණයකි.

කටුපොත පෙරදිග චිකිත්සාගාරයට

# මාර්ග විස්තරය.

රෝග පීඩාවලදී දුර බැහැර ප්‍රශ්නයක් නොවේ

**හමුවීම:** කටුපොත පෙරදිග චිකිත්සාගාරයේදී [illegible]

[illegible]

**පිහිටීම:** කටුපොත [illegible]

නාරම්මල බස් නැවතුම්පලේ සිට [illegible] [illegible]

කොළඹ සිට කුරුණෑගලට මිනුවන්ගොඩ හරහා පැමිණෙන බස්වලින් පැමිණ නාරම්මල් බස් නැවතුම්පලින් බසින්න අනුරාධපුර, අම්පාර, පොළොන්නරුව, මාතලේ කැකිරාව, රාජාංගනය, පදවිය, කන්තලේ, ත්‍රිකුණාමල, වවුනියාව, පළාත්වල රෝගීන් කුරුණෑගලට පැමිණ නාරම්මල හරහා මාදම්පෙ, කුලියාපිටිය, කොළඹ මීගමුව, බස්වල පැමිණ නාරම්මල බස් නැවතුම් පලින් බසින්න මාදම්පෙ, හලාවත පුත්තලම් මීගමුව, රෝගීන් කුලියාපිටියට පැමිණ නාරම්මල හරහා කුරුණෑගලට එන බස්වල පැමිණ නාරම්මලින් බසින්න නුවරඑළිය, හැටන් ගම්පොල තලවාකැලේ; පළාත්වල රෝගීන් නුවර සිට කුරුණෑගලට එන බස්වල පැමිණ නාරම්මලට රුවන්වැල්ල, අවිස්සාවේල්ල, රත්නපුර, පළාත්වල රෝගීන් කෑගල්ල-පොල්ගහවෙල හරහා නාරම්මලට එන්න

**කටුපොත බෙහෙත් ශාලාවට මාර්ග විස්තරය**

ඉහත සඳහන් මාර්ග විස්තර අනුව නාරම්මලට පැමිණ කටුපොත හරහා වාරියපොළට පැමිණෙන බස්වල පැමිණ කටුපොත හන්දියෙන් බැස පෙරදිග බෙහෙත් ශාලාවට එන්න.

මීට,

වෙදවංශී

**එච්. පී. ආර්. ධර්මරත්න**

පෙරදිග චිකිත්සාගාරය

කටුපොත - තැපැල්

ශ්‍රී වර්ධන මුද්‍රණාලය - කටුපොත